කෝර්නි චුකෝව්ස්කි

# වෙදිහෝන්තයෙ

චිත්‍ර
වී. ඇන්ඩ්‍රියෙව්ච්



අගහස් ප්‍රකාශන

අපේ ගෙදර ටෙලිපෝනය කතා
කරයි, "හලෝ, හලෝ"
"හලෝ, හලෝ
කවුද? කවුද?"
"මේ මම
අලිහාමි"



"ඕ-කොහෙ ඉඳලද මේ?"
"කැලෑ ටවුමෙ, ඔටු වීදියෙ
අංක තුනේ ඉඳලයි මේ"
"ඉතින් ඉතින්,
ඔයාට මොනවත් ඕනැද?"
"චොකලට් ටිකක් මෙන්න මගේ පොඩි එකාට"
"රාත්තලක් දෙකක් ඇද්ද?"
"අපොයි මදි
ටොන් එකක් තිබුණොත් ඇති
පොඩි එකාට බඩගිනියිලු
හරිම හිච්චි පැටියනෙ උඟ"





ඔන්න ඉතින් කඹුල් හාමි
ලොකු කලබලයකින් වාගෙ
"සමාවෙන්න, අනේ යාලු
හම් සපත්තු ජෝඩු තුනක්
එවනවාද අනේ යාලු
හාමිනේටයි, මටයි,
ටොටෝෂා පැටියටයි"
"ඈයි ඉතින් ගිය බදාදා
එව්වනෙ දුසිමක් දෙකක්ම
අලුත්ම පන්කාදු ජෝඩු
ඔය ඉක්මනටම සපත්තු
ගෙවුනා කියලද කියන්නෙ?"
"ගිය බදාදා එව්ව තමයි
නමුත් ඒව ඉක්මනටම
කාල දැම්ම අපි හැමෝම
දැන් ආයෙත් බලා ඉන්නෙ
මිහිරි රසට හොඳට හැපෙන
හම් සපත්තු දුසිමක්වත්
රෑ කෑමට ලැබෙනෙ තුරුයි"



හාවො රංචුවක් එතකොට
මෙන්න මෙහෙම මට කියාපි
"අත් මේස් ටිකක්
එවන්නකෝ අනේ අපට
එකක්වත් ම අප ළඟ නෑ"





ඔන්න ඉතින් චිම්පන්සියෝ
"හලෝ හලෝ මේ අහන්න
කියවන්නට පොතක් දෙකක්
කරුණා කරලා එවන්න"



ඊට පස්සෙ වලස්හාමි
කන් අඩි පිපිරෙන තරමට
කෑ ගහන්නෙ මේ මොකට ද?
"හලෝ, හලෝ වලස්හාමි
කෑ ගහන්න එපා තදින්
හැදිච්ච මිනිහෙක් වාගේ
හෙමින් කතා කරන්නකෝ"
වලස්හාමි බෙරිහන් දෙයි
නවත්තන්නෙ නැතුව දිගට
ඊට පස්සෙ මම කියනව
"පුප්පන්නේ නැතුව ගිරිය
රිසීවරය බිම තියන්න"





ඊට පස්සෙ වෙලේ ඉන්න,
කොක් රෑනක් මෙහෙම කියති
“ගෙම්බො කාල, කාල, කාල
අපට අජීර්ණෝ හැදිල
හරිම අමාරුයි යාළුවෙ
ඒ ඇරෙන්න ජල සන්නිය
බේත් පෙති ටිකක් අනේ
එව්වොත්තින් බොහොම පින්”

මුළු දවසෙම මෙහෙම තමයි
ටින්-අ-ලින්, ටින්-අ-ලින්, ටින්-අ-ලින්
ටෙලිපෝනය හැම තිස්සෙම
කතාවමයි හැම තිස්සෙම



ගත වූයේ සුළු මොහොතකි
මුවෝ ජෝඩුවක් එතකොට
කලබලයෙන් කතා කරති
"සල්පිලේ තැන තැන
තිබ්ච්ච සීසෝ ඔක්කොම
නැත්තෙ මොකද කියනවාද?
හරි පාඩුව අනේ අපට"
"ඔන්න ඉතින්, ඉතින්, ඉතින්
සල්පිලේ තියල තිබුණු
සීසෝ, ඔන්චිලි ඔක්කොම
අපූරුවට එහෙ තියෙනව
තරහ අවුස්සන්නෙ නැතුව
දුවපල්ලා සල්පිලටම"
කියාපු කිසිවක් නාහන
මොට්ට මෝල් මුවෝ දෙන්න
තාමත් නාහෙන් අඬනව







පසුගිය සිකුරාදා මට
කැන්ගරුවෙක් කතා කළා
"මේකද මේ අපුල්ලනවයි
කියල කියන ස්ථානය?"

යකා නැගපි මට එවේලෙ
"නෑ නෑ නෑ
එහෙම තැනක් නෙමෙයි මේක
එහෙම තැනක් ගැන කියන්න
මම දන්නේ නැහැ හරියට
හැත්තෑ හත හය බිංදුව
කරකවාල බලන්නකෝ"

රෑ තුනක්ම මේ විදියට
නිදා ගැනිල්ලක් නෑ මට
බාගෙට මැරිලයි ඉන්නේ
නිදන්නටයි දැන් ඕනෑ



ටැලිපෝනෙන් නිදහස් වී
නිදන්ට යන්නේ කොහොමද?
“කවුද කවුද?”
“මම-රයිනෝ”
“ඔව් ඉතින්?”
“මෙහාට එනවද විගහට
කියන්නටත් බය හිතෙනව”
“මොකද වුණේ
භූමි කම්පාවක් ද?
නැත්නම් ගිනි අරන්වත් ද?”
“අපොයි නෑ
හිපෝ එරිල මඩ වගුරක”
“එරිල කිව්ව මඩ වගුරක?”
“ඔව් අනේ
කන්දෙක ගාවටම එරිල
අනේ සුදෝ ඔහ නාවොත්
දුප්පතාව ගිලිල යාවි
අපේ හිපෝ මැරිල යාවි
හරියට මැස්සෙක් වාගේ”



"කෑ ගහන්න එපා හලෝ
හිපෝ ඇදල ගොඩට ගන්න
මම එන්නම් උදව් වෙන්න
මඩේ එරුන හිපෝ ඇදල
එළියට ගන්නට ගියාම
යක්ස වැඩක් වේවි ඒක"





